# අ.පො.ස. (උසස් පෙළ) විභාගය - 2021(2022)

# 33 - ගිණුම්කරණය

## ලකුණු බෙදීයාම

| | | | |
|---|---|---|---|
| **I පත්‍රය** | 04 x 50 | = | 200 |
| **II පත්‍රය** | | = | 200 |
| **එකතුව** | | = | 400 ÷ 4 |
| **අවසාන ලකුණු** | | = | 100 |

# උත්තරපත්‍ර ලකුණු කිරීමේ පොදු ශිල්පීය ක්‍රම

උත්තර පත්‍ර ලකුණු කිරීමේ හා ලකුණු ලැයිස්තුවල ලකුණු සටහන් කිරීමේ සම්මත ක්‍රමය අනුගමනය කිරීම අනිවාර්යයෙන්ම කළ යුතුවේ. ඒ සඳහා පහත පරිදි කටයුතු කරන්න.

1. උත්තර පත්‍ර ලකුණු කිරීමට රතුපාට බෝල් පොයින්ට් පෑනක් පාවිච්චි කරන්න.
2. සෑම උත්තරපත්‍රයකම මුල් පිටුවේ සහකාර පරීක්ෂක සංකේත අංකය සටහන් කරන්න. ඉලක්කම් ලිවීමේදී පැහැදිලි ඉලක්කමෙන් ලියන්න.
3. ඉලක්කම් ලිවීමේදී වැරදුණු අවස්ථාවක් වේ නම් එය පැහැදිලිව තනි ඉරකින් කපා හැර නැවත ලියා කෙටි අත්සන යොදන්න.
4. එක් එක් ප්‍රශ්නයේ අනු කොටස්වල පිළිතුරු සඳහා හිමි ලකුණු ඒ ඒ කොටස අවසානයේ △ක් තුළ ලියා දක්වන්න. අවසාන ලකුණු ප්‍රශ්න අංකයත් සමග □ක් තුළ, භාග සංඛ්‍යාවක් ලෙස ඇතුළත් කරන්න. ලකුණු සටහන් කිරීම සඳහා පරීක්ෂකවරයාගේ ප්‍රයෝජනය සඳහා ඇති තීරුව භාවිත කරන්න.

**උදාහරණ :ප්‍රශ්න අංක 03**

(i) ..................................................... √ △ $\frac{4}{5}$

(ii) ..................................................... √ △ $\frac{3}{5}$

(iii) ..................................................... √ △ $\frac{3}{5}$

(03) (i) $\frac{4}{5}$ + (ii) $\frac{3}{5}$ + (iii) $\frac{3}{5}$ = □ $\frac{10}{15}$

**බහුවරණ උත්තරපත්‍ර : (කවුළු පත්‍රය)**

1. අ.පො.ස. (උ.පෙළ) හා තොරතුරු තාක්ෂණ විභාගය සඳහා කවුළු පත්‍ර දෙපාර්තමේන්තුව මගින් සකසනු ලැබේ. නිවැරදි වරණ කපා ඉවත් කළ සහතික කරන ලද කවුළුපතක් ඔබ වෙත සපයනු ලැබේ. සහතික කළ කවුළු පත්‍රයක් භාවිත කිරීම පරීක්ෂකගේ වගකීම වේ.
2. අනතුරුව උත්තරපත්‍ර හොඳින් පරීක්ෂා කර බලන්න. කිසියම් ප්‍රශ්නයකට එක් පිළිතුරකට වඩා ලකුණු කර ඇත්නම් හෝ එකම පිළිතුරක්වත් ලකුණු කර නැත්නම් හෝ වරණ කැපී යන පරිදි ඉරක් අඳින්න. ඇතැම් විට අයදුම්කරුවන් විසින් මුලින් ලකුණු කර ඇති පිළිතුරක් මකා වෙනත් පිළිතුරක් ලකුණු කර තිබෙන්නට පුළුවන. එසේ මකන ලද අවස්ථාවකදී පැහැදිලිව මකා නොමැති නම් මකන ලද වරණය මත ද ඉරක් අඳින්න.
3. කවුළු පත්‍රය උත්තරපත්‍රය මත නිවැරදිව තබන්න. නිවැරදි පිළිතුර ✓ ලකුණකින් ද, වැරදි පිළිතුර 0 ලකුණකින් ද වරණ මත ලකුණු කරන්න. නිවැරදි පිළිතුරු සංඛ්‍යාව ඒ ඒ වරණ තීරයට පහළින් ලියා දක්වන්න. අනතුරුව එම සංඛ්‍යා එකතු කර මුළු නිවැරදි පිළිතුරු සංඛ්‍යාව අදාළ කොටුව තුළ ලියන්න.

**ව්‍යුහගත රචනා හා රචනා උත්තරපත්‍ර :**

1. අයදුම්කරුවන් විසින් උත්තරපත්‍රයේ හිස්ව තබා ඇති පිටු හරහා රේඛාවක් ඇඳ කපා හරින්න. වැරදි හෝ නුසුදුසු පිළිතුරු යටින් ඉරි අඳින්න. ලකුණු දිය හැකි ස්ථානවල හරි ලකුණු යෙදීමෙන් එය පෙන්වන්න.

2. ලකුණු සටහන් කිරීමේදී ඕවර්ලන්ඩ් කඩදාසියේ දකුණු පස තීරය යොදා ගත යුතු වේ.

3. සෑම ප්‍රශ්නයකටම දෙන මුළු ලකුණු උත්තරපත්‍රයේ මුල් පිටුවේ ඇති අදාළ කොටුව තුළ ප්‍රශ්න අංකය ඉදිරියෙන් අංක දෙකකින් ලියා දක්වන්න. ප්‍රශ්න පත්‍රයේ දී ඇති උපදෙස් අනුව ප්‍රශ්න තෝරා ගැනීම කළ යුතුවේ. සියලු ම උත්තර ලකුණු කර ලකුණු මුල් පිටුවේ සටහන් කරන්න. ප්‍රශ්න පත්‍රයේ දී ඇති උපදෙස්වලට පටහැනිව වැඩි ප්‍රශ්න ගණනකට පිළිතුරු ලියා ඇත්නම් අඩු ලකුණු සහිත පිළිතුරු කපා ඉවත් කරන්න.

4. පරීක්ෂාකාරීව මුළු ලකුණු ගණන එකතු කොට මුල් පිටුවේ නියමිත ස්ථානයේ ලියන්න. උත්තරපත්‍රයේ සෑම උත්තරයකටම දී ඇති ලකුණු ගණන උත්තරපත්‍රයේ පිටු පෙරළමින් නැවත එකතු කරන්න. එම ලකුණ ඔබ විසින් මුල් පිටුවේ එකතුව ලෙස සටහන් කර ඇති මුළු ලකුණට සමාන දැයි නැවත පරීක්ෂා කර බලන්න.

**ලකුණු ලැයිස්තු සකස් කිරීම :**

සියලු ම විෂයන්හි අවසාන ලකුණු ඇගයීම් මණ්ඩලය තුළදී ගණනය කරනු නොලැබේ. එබැවින් එක් එක් පත්‍රයට අදාළ අවසාන ලකුණු වෙන වෙනම ලකුණු ලැයිස්තුවලට ඇතුළත් කළ යුතු ය. I පත්‍රය සඳහා බහුවරණ පිළිතුරු පත්‍රයක් පමණක් ඇති විට ලකුණු ලැයිස්තුවට ලකුණු ඇතුළත් කිරීමෙන් පසු අකුරෙන් ලියන්න. අනෙකුත් උත්තරපත්‍ර සඳහා විස්තර ලකුණු ඇතුළත් කරන්න.

***

# අ.පො.ස. (උසස් පෙළ) විභාගය - 2021 (2022)
## 33 - ගිණුම්කරණය
## I කොටස

| ප්‍රශ්න අංකය | පිළිතුර |
|---|---|
| 1 | 5 |
| 2 | 3 |
| 3 | 2 |
| 4 | 4 |
| 5 | 4 |
| 6 | 5 |
| 7 | 3 |
| 8 | 3 |
| 9 | 3 |
| 10 | 4 |
| 11 | 4 |
| 12 | 2 |
| 13 | 2 |
| 14 | 2 |
| 15 | 3 |
| 16 | 5 |
| 17 | 4 |
| 18 | 5 |
| 19 | 4 |
| 20 | 4 |
| 21 | 4 |
| 22 | 4 |
| 23 | 3 |
| 24 | 3 |
| 25 | 3 |
| 26 | 4 |
| 27 | 4 |
| 28 | 4 |
| 29 | 3 |
| 30 | 2 |

(1 සිට 30 දක්වා ප්‍රශ්නවලට සෑම නිවැරදි පිළිතුරකටම ලකුණු **04** බැගින් මුළු ලකුණු **120**)

31. A - අසත්‍ය (01)
B - සත්‍ය (01)
C - සත්‍ය (01)
D - සත්‍ය (01)

32. A - වෙනස් නොවේ (01)
B - වැඩි වේ (01)
C - වැඩි වේ (01)
D - අඩු වේ (01)

33. A - මුදල් ගෙවීම් ජර්නලය (01)
B - පොදු ජර්නලය (01)
C - විකුණුම් ජර්නලය (01)
D - විකුණුම් ජර්නලය/ පොදු ජර්නලය (01)

34. (a) රු. 558 000 (02)
(b) රු. 558 000 (02)

35. A - ඒකක (01)
B - කාලච්ඡේද (01)
C - මූල්‍ය මිනුම් (01)
D - ගැලපුම් (01)

36. A - සත්‍ය (01)
B - සත්‍ය (01)
C - සත්‍ය (01)
D - අසත්‍ය (01)

37. (a) රු. 420 000 (02)
(b) රු. 200 000 (02)

38. (a) රු. 2 000 (02)
    (b) රු. 4 200 (02)

39.

(අ) ලාභ අලාභ විසර්ජන ගිණුම හර 1 800
ජංගම ගිණුම - මංජුල බැර 1 800 (02)

(ආ) ලාභ අලාභ විසර්ජන ගිණුම හර 800
ජංගම ගිණුම -සංජුල බැර 800 (02)

40. A - මූලාය (01)
    B - ආයෝජන / මෙහෙයුම් (01)
    C - මෙහෙයුම් (01)
    D - ආයෝජන (01)

41. (අ) ගලපන සිදුවීමකි (02)
    (ආ) රු. 75 000 (02)

42. (අ) රු. 1 500 (02)
    (ආ) රු. 1 000 (02)

43. (අ) විශ්වාසනීය නියෝජනය (01)
    (ආ) වර්තමාන බැඳීම (01)
    (ඇ) වර්තමාන අගය (01)
    (ඉ) ආර්ථික සම්පතක් (01)

44. (අ) රු. 6 800 000 (02)
    (ආ) රු. 4 200 000 (02)

45. (අ) වාර 6 (02)
    (ආ) දින 60 (02)

46. (අ) රු. 7 500 (02)
 (ආ) රු. 9 500 (01)
 (ඇ) රු. 3 500 (01)

47. (අ) නිෂ්පාදිත පිරිවැය සහ කාලච්ඡේද පිරිවැය / සෘජු පිරිවැය සහ වක්‍ර පිරිවැය (02)
 (ආ) ස්ථාවර පිරිවැය සහ විචල්‍ය පිරිවැය (02)

48. (අ) ඒකක 200 (02)
 (ආ) රු. 16 000 (02)

49. (අ) රු. 240 000 (02)
 (ආ) රු. 90 (02)

50. (අ) රු. 5 650 000 (01)
 (ආ) රු. 1 650 000 (01)
 (ඇ) රු. 200 000 (01)
 (ඉ) රු. 60 000 (01)

**(ලකුණු 80)**

| ප්‍රශ්න අංක. | | |
|---|---|---|
| | **1 - 30** | ලකුණු **120** |
| | **31 - 50** | ලකුණු **80** |
| | | ලකුණු **200** |

ප්‍රශ්න අංක 01

**(1)**

**සීමිත එරංග පොදු සමාගම**

**2021.03.31 දිනෙන් අවසන් වසර සඳහා**

**ලාභ හෝ අලාභ හා වෙනත් විස්තීරණ ආදායම් ප්‍රකාශනය** (01)

**රු.'000**

| | සටහන් | | |
|---|---|---|---|
| විකුණුම් | | 60 000 | |
| විකුණුම් පිරිවැය | | 38 500 | |
| දළ ලාභය | | (01) **21 500** | |
| වෙනත් ආදායම් | 01 | (1 000) | (01) පෙර. 1 |
| බෙදාහැරීමේ පිරිවැය | | (6 900) | (03) පෙර. 2 |
| පරිපාලන වියදම් | | (7 100) | (01) පෙර. 3 |
| වෙනත් වියදම් | | (1 600) | (01) පෙර. 4 |
| මූල්‍ය වියදම් | | 1 200 | |
| **බදු පෙර ලාභය** | 02 | 5 700 | |
| ආදායම් බදු | 03 | (1 500) | (02) |
| **කාලච්ඡේදයේ ලාභය** | | **4 200** | |
| **වෙනත් විස්තීරණ ආදායම්** | | | |
| ප්‍රත්‍යාගණන අතිරික්තයේ වෙනස්වීම | | (01) 5 000 | |
| **මුළු විස්තීරණ ආදායම** | | (01) **9 200** | |

**සටහන් 01 : වෙනත් ආදායම්** **රු. 000**

මෝටර් රථ විකුණුම් ලාභය රු. 1 000

**සටහන් 02 : බදු පෙර ලාභය ගණනය කිරීමේ දී පහත වියදම් ද අඩු කර ඇත.**

| | **රු.'000** |
|---|---|
| අධ්‍යක්ෂ ගාස්තු | 1 200 |
| විගණන ගාස්තු | 300 |
| ක්ෂය | 5 950 |
| හානිකරණ අලාභ | 600 |
| උපකරණ ප්‍රත්‍යාගණන අලාභ | 1 000 |

**(ඕනෑම අයිතම දෙකකට ලකුණු 01 බැගින් උපරිම ලකුණු (02) යි.)**

**සටහන් 03: ආදායම් බදු**

| | | |
|---|---|---|
| ප්‍රවර්තන වර්ෂය සඳහා ආදායම් බදු ප්‍රතිපාදනය | 1 600 | 01 |
| පසුගිය වර්ෂය සඳහා ආදායම් බදු අධි ප්‍රතිපාදනය | (100) | 01 |
| ආදායම් බදු වියදම | **1 500** | |

**පෙරවැඩ රු.'000:**

**පෙරවැඩ 1 - වෙනත් ආදායම්**

| | | |
|---|---|---|
| වත්කමේ පිරිවැය | 5 000 | |
| සමුච්චිත ක්ෂය | (2 000) | |
| ධාරණ අගය | 3 000 | |
| විකුණුම් මිල | 4 000 | 01 |
| වත්කම් විකිණීමේ ලාභය | **1 000** | |

**පෙරවැඩ 2 - බෙදාහැරීමේ පිරිවැය**

| | | |
|---|---|---|
| ශේෂය | 7 200 | |
| අතුරු ලාභාංශ | (400) | 01 |
| මෝටර් රථ ක්ෂය අධි ගණනය | (500) | 01 |
| හානිකරණ අලාභ | 600 | 01 |
| | **6 900** | |

**පෙරවැඩ 3 - පරිපාලන වියදම්**

| | | |
|---|---|---|
| ශේෂය | 6 800 | |
| විගණන ගාස්තු | 300 | 01 |
| | **7 100** | |

**පෙරවැඩ 4 - වෙනත් වියදම්**

| | | |
|---|---|---|
| ශේෂය | 600 | |
| උපකරණ ප්‍රත්‍යාගණන ඌනතාව | 1 000 | 01 |
| | **1 600** | |

**(ලකුණු 14)**

(2)

**සීමිත එරංග පොදු සමාගම**
**2021.03.31 දිනෙන් අවසන් වසර සඳහා**
**හිමිකම් වෙනස්වීමේ ප්‍රකාශනය**

**රු.'000**

| | **සාමාන්‍ය කොටස්** | **ප්‍රත්‍යාගණන සංචිත** | **රඳවාගත් ඉපැයුම්** | **එකතුව** |
|---|---|---|---|---|
| 2020.04.01 දිනට ශේෂය | 38 000 | 12 500 | - | 50 500 |
| මුළු විස්තීරණ ආදායම | | (01) 4 200 | 5 000 | 9 200 |
| අතුරු ලාභාංශ | | (400) | (01) | (400) |
| **2021.03.31 දිනට ශේෂය** | **38 000** | **16 300** | **5 000** | **59 300** |

**(ලකුණු 02)**

**(3)**

**සීමිත එරංග පොදු සමාගම**
2021.03.31 දිනට
**මූල්‍ය තත්ත්ව ප්‍රකාශනය** (01)

| | සටහන් | | රු.'000 | |
|---|---|---|---|---|
| **ජංගම නොවන වත්කම්** | | | | |
| දේපළ, පිරියත සහ උපකරණ | 04 | (01) | 50 000 | |
| භාවිත අයිතිය සහිත වත්කම් | 05 | (01) | 6 000 | |
| **ජංගම වත්කම්** | | | | |
| තොගය | | | 4 250 | * |
| වෙළෙඳ ලැබිය යුතු දෑ | | | 6 800 | (01) |
| මුදල් හා මුදල් සමාන දෑ | | | 500 | * |
| **මුළු වත්කම්** | | | **67 550** | |
| **හිමිකම්** | | | | |
| ප්‍රකාශිත ප්‍රාග්ධනය - සාමාන්‍ය කොටස් | | | 38 000 | * |
| **සංචිත** | | | | |
| ප්‍රත්‍යාගණන සංචිත | | | 5 000 | (01) |
| රඳවාගත් ඉපැයුම් | | (01) | 16 300 | |
| **ජංගම නොවන වගකීම්** | | | | |
| කල්බදු වගකීම | | (01) | 2 949 | |
| **ජංගම වගකීම්** | | | | |
| වෙළෙඳ ගෙවිය යුතු දෑ | | | 551 | (01) |
| කල්බදු වගකීම | | | 4 250 | * |
| උපචිත ආදායම් බදු | | | 200 | (01) |
| උපචිත විගණන ගාස්තු | | | 300 | (01) |
| **මුළු හිමිකම් සහ වගකීම** | | | **67 550** | |

*අයිතම් දෙකකට 01 බැගින් ලකුණු (02)

**සටහන් අංක 4: දේපළ, පිරියත සහ උපකරණ**

**(රු.'000)**

| පිරිවැය/ අගය | ඉඩම | ගොඩනැ ගිලි | මෝටර් රථ | කාර්යාල උපකරණ | එකතුව |
|---|---|---|---|---|---|
| 2020.04.01 ශේෂය (01) | 10 000 | 18 000 | 24 000 | 6 300 | 58 300 |
| එකතු කිරීම් | | | | 1 200 (01) | 1 200 |
| ප්‍රත්‍යාගණිත අතිරික්තය/(ඌනතාව) | 5 000 (01) | | | (1 000) (01) | 4 000 |
| ප්‍රත්‍යාගණනය මත සමුච්චිත ක්ෂය මාරු කිරීම | | | | (1 500) (01) | (1 500) |
| ඉවත්කිරීම් | | | (5 000) (01) | | (5 000) |
| 2021.03.31 දිනට ශේෂය | **15 000** | **18 000** | **19 000** | **5 000** | **57 000** |
| **සමුච්චිත ක්ෂය** | | | | | |
| 2020.04.01 ශේෂය | | (01) 2 100 | 1 700 | 750 | 4 550 |
| ක්ෂය | | 900 | 4 300 | 750 (01) | 5 950 |
| ප්‍රත්‍යාගණනය මත සමුච්චිත ක්ෂය මාරු කිරීම | | | | (1 500) (01) | (1 500) |
| ඉවත් කිරීම් | | | (01) (2 000) | | (2 000) |
| 2021.03.31 දිනට ශේෂය | | **3 000** | **4 000** | **-** | **7 000** |
| **2021.03.31 දිනට ධාරණ අගය** | **15 000** | **15 000** | **15 000** | **5 000** | **50 000** |

**සටහන අංක 05: භාවිත අයිතිය සහිත වත්කම**

| | (රු. '000) |
|---|---|
| මූලික ගෙවීම | 2 500 |
| කල්බදු ණයහිමියා | 3 500 (01) |
| 2021.03.31 දිනට ශේෂය | 6 000 |

**සටහන අංක 6: නොගලපන සිදුවීම්**

2021.05.15 දින ඇති වූ ගින්නකින් රු.5 000 000 ක් ධාරණ අගය වූ ගොඩනැගිල්ලක් සම්පූර්ණයෙන් විනාශ විය. (01)

**(ලකුණු 24)**

**(මුළු ලකුණු 40)**

**ප්‍රශ්න අංක 1**

| කොටස | (1) | (2) | (3) | එකතුව |
|---|---|---|---|---|
| ලකුණු | 14 | 02 | 24 | **40** |

## ප්‍රශ්න අංක 2

**(අ)**

**(1)** 2021 මැයි මාසයේ වැටුප් ලේඛනය

**රු.'000**

| සේවක අංකය | මූලික වැටුප | අතිරේක දේශන දීමනා | අන්තර්ජාල දීමනා | ස්ථාවර දීමනා | දළ වැටුප | සේ.අ.අ. දායකය (10%) | අඩු කිරීම් | | මුළු අඩු කිරීම | ශුද්ධ වැටුප | සේ.අ.අ. දායකය (15%) | සේ.භා.අ. දායකය (3%) |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | | | | | | ණය වාරික | වැටුප් අත්තිකාරම් | | | | |
| 1 | 100 | 30 | 5 | | 135 | 13 | 40 | | 53 | 82 | 19.5 | 3.9 |
| 2 | 100 | 90 | 5 | | 195 | 19 | | 25 | 44 | 151 | 28.5 | 5.7 |
| 3 | 100 | | 5 | 50 | 155 | 15 | 60 | | 75 | 80 | 22.5 | 4.5 |
| | **300** | **120** | **15** | **50** | **485** | **47** | **100** | **25** | **172** | **313** | **70.5** | **14.1** |
| | (01) | (02) | (01) | (01) | | (02) | (01) | (01) | | | (02) | (02) |

**තීරුවල අයිතම සියල්ල නිවැරදි නම් මුළු ලකුණු ලබා දෙන්න. (එකතුන් හැර)**

**(ලකුණු 13)**

**(2)**

වැටුප් පාලන ගිණුම **රු.'000**

| | | | |
|---|---|---|---|
| ගෙවිය යුතු EPF | * 47 | වැටුප් වියදම | (01) 485 |
| සේවක ණය | * 100 | | |
| වැටුප් අත්තිකාරම් | * 25 | | |
| මුදල්/ උපචිත වැටුප් | * 313 | | |
| | **485** | | **485** |

* වැටුප් ලේඛනයේ ලද අයිතම දෙකකට ලකුණු 01 බැගින් උපරිම ලකුණු (02)

**(ලකුණු 03)**

**(ලකුණු 16)**

(ආ)

**(1) පොදු කාර්ය පිරිවැය විශ්ලේෂණ පත්‍රිකාව** රු. **'000**

| විස්තරය | විභජන පදනම | එකතුව | සැකසුම් දෙපා: | බෝතල් කිරීම් දෙපා: | ගබඩාව |
|---|---|---|---|---|---|
| නිෂ්පාදන කළමනාකරුගේ වැටුප් | සෘජු | 710 | 384 | 326 (01) | |
| ගබඩා පාලක වැටුප් | සෘජු | 300 | | | 300 (01) |
| වක්‍ර වැටුප් | සේවක සංඛ්‍යාව / (6:5:1) (01) | 1 200 | 600 | 500 | 100 (01) |
| විදුලි ගාස්තු | කිලොවොට් පැය / (4:3:1) (01) | 240 | 120 | 90 | 30 (01) |
| කුලිය | භූමි ප්‍රමාණය (15:5:4) (01) | 480 | 300 | 100 | 80 (01) |
| යන්ත්‍ර ක්ෂය | යන්ත්‍ර පිරිවැය / (3:1) (01) | 120 | 90 | 30 | (01) |
| | | 3 050 | 1 494 | 1 046 | 510 |
| ගබඩා පොදු කාර්ය පිරිවැය නැවත විභජනය | 3:2 | | (01) 306 | (01) 204 | (510) |
| මුළු නිෂ්පාදන පොදු කාර්ය | | **3 050** | **1 800** | **1 250** | - |

(ලකුණු **12** )

**(2) පොදු කාර්ය පිරිවැය අන්තර්ගහන අනුපාතය (රු.)**

| | සැකසුම් | බෝතල් කිරීම් |
|---|---|---|
| | **30** (02) | **25** (02) |
| | යන්ත්‍ර පැයකට | ශ්‍රම පැයකට |
| **පෙරවැඩ:** | | |
| මුළු පොදු කාර්ය පිරිවැය (රු.'000) | 01 1 800 | 01 1 250 |
| පැය ගණන ('000) | 60 01 | 50 01 |
| පොදු කාර්ය පිරිවැය අන්තර්ගහන අනුපාතය (රු.) | **30** | **25** |

(ලකුණු **04**)

**(3)** අඹ යුෂ බෝතලයක මුළු පිරිවැය = රු. 300 (03)

| පෙරවැඩට | | | රු. | |
|---|---|---|---|---|
| සෘජු අමු ද්‍රව්‍ය පිරිවැය | | | 115 | 01 |
| සෘජු ශ්‍රම පිරිවැය | | | 50 | |
| නිෂ්පාදන පොදුකාර්ය පිරිවැය | | | | |
| සැකසුම් | (පැය 2 X රු. 30) | 01 60 | | |
| බෝතල් කිරීම් | (පැය 3 X රු. 25) | 01 75 | | |
| | | | 135 | |
| මුළු පිරිවැය | | | **300** | |

අඹ යුෂ බෝතලයක මුළු පිරිවැය = රු. 345 (03)

| පෙරවැඩ | | | රු. | |
|---|---|---|---|---|
| සෘජු අමු ද්‍රව්‍ය පිරිවැය | | | 70 | 01 |
| සෘජු ශ්‍රම පිරිවැය | | | 60 | |
| නිෂ්පාදන පොදුකාර්ය පිරිවැය | | | | |
| සැකසුම් | (පැය 3 X රු. 30) | 01 90 | | |
| බෝතල් කිරීම් | (පැය 5 X රු. 25) | 01 125 | | |
| | | | 215 | |
| මුළු පිරිවැය | | | **345** | |

(ලකුණු 06)

**(4)** අඹ යුෂ බෝතලයක විකුණුම් මිල = රු. 375 (02)

| පෙරවැඩ | | රු. |
|---|---|---|
| මුළු නිෂ්පාදන පිරිවැය | 01 | 300 |
| ලාභ ආන්තිකය - මුළු පිරිවැය x 25% | 01 | 75 |
| විකුණුම් මිල | | 375 |

(ලකුණු 02)

(ලකුණු 24)

(මුළු ලකුණු 40)

ප්‍රශ්න අංක 2

| කොටස | 1 | 2 | 3 | 4 | එකතුව |
|---|---|---|---|---|---|
| (අ) | 13 | 03 | - | - | 16 |
| (ආ) | 12 | 04 | 06 | 02 | 24 |
| | | | | | **40** |

ප්‍රශ්න අංක **3**

**(1)** **රු.'000**

| ගනුදෙනු අංකය | වත්කම් | | | | වගකීම් | | හිමිකම | |
|---|---|---|---|---|---|---|---|---|
| | උපකරණ | තොග | වෙළෙඳ ලැබිය යුතු දෑ | මුදල් | වෙළෙඳ ගෙවිය යුතු දෑ | උපචිත වියදම් | | |
| 1 | +750 | | | +500 | | | +1 250 | (03) |
| 2 | | +200 | | | +200 | | | (01) |
| 3 | | -40 | | | -40 | | | (01) |
| 4 | | -60 | +100 | | | | +40 | (02) |
| 5 | | +6 | -10 | | | | -4 | (02) |
| 6 | | | | -152 | -160 | | +8 | (02) |
| 7 | | -3 | | | | | -3 | (02) |
| 8 | | | -10 | +9 | | | -1 | (02) |
| 9 | | | | | | +7 | -7 | (01) |
| 10 | | | | -5 | | | -5 | (01) |
| 11 | | -20 | | +35 | | | +15 | (02) |
| 12 | -15 | | | | | | -15 | (01) |
| අවසාන ශේෂය * | **735*** | **83*** | **80*** | **387*** | **0*** | **7*** | **1 278** | (01) |

*** (ශේෂ දෙකකට ලකුණු 01 බැගින් ලකුණු (03) )**

**(ලකුණු 24)**

**(2) සංශෝධිත මුදල් ශේෂය**

| | රු.'000 | |
|---|---|---|
| 2021.04.30 දිනට මුදල් ගිණුමේ ශේෂය | (01) 387 | |
| බැංකු ගාස්තු | (1) | (01) |
| ස්ථාවර නියෝග ගෙවීම් | (5) | (01) |
| ගනුදෙනුකරුවකුගේ සෘජු තැන්පතු | 20 | (01) |
| **2021.04.30 දිනට මුදල් ගිණුමේ සංශෝධිත ශේෂය** | **401** | |

**බැංකු සැසඳුම් ප්‍රකාශනය**

| | | |
|---|---|---|
| 2021.04.30 දිනට මුදල් ගිණුමේ සංශෝධිත ශේෂය | (01) 401 | |
| එකතු කළා : ඉදිරිපත් නොකළ චෙක්පත් | 5 | (01) |
| **2021.04.30 දිනට බැංකු ප්‍රකාශනයට අනුව ශේෂය** | (01) **406** | |

**(ලකුණු 07)**

**(4)** 2021.04.30 **දිනෙන් අවසන් මාසය සඳහා ආදයම් ප්‍රකාශනය**

| | | **රු.'000** | |
|---|---|---|---|
| විකුණුම් | | 135 | (01) |
| ආපසු එවුම් | | (10) | (01) |
| | | 125 | |
| අඩු: විකුණුම් පිරිවැය | | | |
| ගැනුම් | 200* | | |
| ආපසු යැවුම් | (40)* | | |
| පරිත්‍යාග | (3)* | | |
| අවසාන තොගය | (83)* | 74 | විකල්පය: විකුණුම් පිරිවැය =60 +20- 06 = 74 |
| දළ ලාභය | | 51 | |
| වෙනත් ආදයම් | | | |
| ලද වට්ටම් | | 8 | (01) |
| වියදම් | | | |
| පරිත්‍යාග | 3* | | |
| දුන් වට්ටම් | 1* | | |
| විදුලි වියදම් | 7* | | |
| නඩත්තු වියදම් | 5* | | |
| ක්ෂය | 15* | | |
| බැංකු ගාස්තු | 1* | (32) | *අයිතම දෙකකට 01 බැගින් (ලකුණු (05) ) |
| ශුද්ධ ලාභය | | (01) **27** | |

**(ලකුණු 09)**

**(මුළු ලකුණු 40)**

**ප්‍රශ්න අංක 3**

| **කොටස** | **1** | **2** | **3** | **එකතුව** |
|---|---|---|---|---|
| **ලකුණු** | 24 | 07 | 09 | **40** |

ප්‍රශ්න අංක 04

(අ)

**(1) මූලික මුදල් ගලා යාම** **රු. 7 300 000** (04)

| **පෙරවැඩ** | |
|---|---|
| **මූලික මුදල් ගලා යාම** | **රු.'000** |
| යන්ත්‍රයේ ගැනුම් මිල | 6 500 [01] |
| ප්‍රවාහන වියදම් | 50 [01] |
| ස්ථාපන වියදම් | 200 [01] |
| කාරක ප්‍රාග්ධනය | 550 [01] |
| **මුළු මුදල් ගලා යාම්** | **7 300** |

**(2) එක් එක් වර්ෂය සඳහා මුදල් ගලා ඒම්**

| **වර්ෂය** | **0** | **1** | **2** | **3** | **4** | **5** | **6** | |
|---|---|---|---|---|---|---|---|---|
| **මුදල් ගලා ඒම් (රු.'000)** | | | | | | | | |
| මෙහෙයුම් මුදල් ගලා ඒම් | | 1 550 | 1 800 | 1 950 | 2 250 | 2 050 | 1 750 | (02) |
| සුන්බුන් අගය | | | | | | | 750 | (01) |
| කාරක ප්‍රාග්ධනය | | | | | | | 550 | (01) |
| **මුළු මුදල් ගලා ඒම්** | **0** | **1 550** | **1 800** | **1 950** | **2 250** | **2 050** | **3 050** | |

**(ලකුණු 04)**

**(3) ව්‍යාපෘතියෙහි ශුද්ධ වර්තමාන අගය**

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| **ශුද්ධ මුදල් ප්‍රවාහ** | **(7 300)** | **1 550** | **1 800** | **1 950** | **2 250** | **2 050** | **3 050** |
| 12% වට්ටම් සාධකය | 1 | 0.89 | 0.79 | 0.71 | 0.64 | 0.57 | 0.51 |
| **වර්තමාන අගය** | **(7 300)** | **1 3780** | **1 422** | **1 384** | **1 440** | **1 168** | **1 556** |
| | | | | | | | 8 350 |

ශුද්ධ වර්තමාන අගය (01) 1 050

**(ලකුණු 01)**

**(4) නිර්දේශය**

(01) ශුද්ධ වර්තමාන අගය ධන අගයක් ගන්නා බැවින් ව්‍යාපෘතිය පිළිගත යුතුය.

(ලකුණු 01)

**(ලකුණු 10)**

(ආ)

(1)

(i) මුදල් ලැබීම් ජර්නලය (රු.'000)

| විස්තරය | වට්ටම් | වටිනාකම | විශ්ලේෂණය | | | |
|---|---|---|---|---|---|---|
| | | | විකුණුම් | VAT | වෙළෙඳ ලැබිය යුතු දෑ | වෙනත් |
| ආරම්භක ණයගැති | | 150 | | | 150* | |
| විකුණුම් | | 324 | 300* | 24* | | |
| කසුන් | 60* | 588 | | | 588* | |
| අමිල | 40* | 392 | | | 392* | |
| ප්‍රභාත් | | 600 | | | 600* | |
| ප්‍රවාහන ආදායම් | | 54 | | | | 54* |
| **එකතුව** | **100** | **2 108** | **300** | **24** | **1 730** | **54** |

* අයිතම දෙකකට ලකුණු **01** බැගින් උපරිම ලකුණු (04)

එකතුව තීරුව – එකතු වටිනාකම් දෙකකට ලකුණු 01 බැගින් උපරිම ලකුණු (02)

(ii) මුදල් ගෙවීම් ජර්නලය (රු.'000)

| විස්තරය | වට්ටම් | වටිනාකම | වෙළෙඳ ගෙවිය යුතු දෑ | ගැනුම් | වියදම් | වෙනත් |
|---|---|---|---|---|---|---|
| ණයහිමියෝ | | 250 | 250* | | | |
| VAT | | 20 | | | | 20* |
| ගැනුම් | | 500 | | 500* | | |
| නාදන් ට්‍රේඩර්ස් | 5* | 600 | 600* | | | |
| මෙහෙයුම් වියදම් | | 198 | | | 198* | |
| **එකතුව** | **5** | **1 568** | **850** | **500** | **198** | **20** |

* අයිතම දෙකකට ලකුණු **01** බැගින් උපරිම ලකුණු (03)

එකතුව තීරුව – එකතු වටිනාකම් දෙකකට ලකුණු **01** බැගින් උපරිම ලකුණු (02)

(iii) මුදල් ගිණුම (රු.'000)

| | | | |
|---|---|---|---|
| ඉ/ගෙ/ ශේෂය | 100 | VAT | * 20 |
| ණයගැති | *1 730 | ගැනුම් | * 500 |
| අත්පිට විකුණුම් | * 300 | ණයහිමි | * 850 |
| VAT | * 24 | මෙහෙයුම් වියදම් | * 198 |
| ප්‍රවාහන ආදායම් | * 54 | ප/ගෙ/ ශේෂය | 640 |
| | **2 208** | | **2 208** |

*(ලද වටිනාකම් එකකට ලකුණු **01** බැගින් උපරිම ලකුණු (04) )

**(iv)** **ණයගැති පාලන ගිණුම (රු.'000)**

| | | | |
|---|---|---|---|
| ඉ/ගෙ/ ශේෂය | 150 | මුදල් | 1 730* |
| විකුණුම් | 1 800* | දුන් වට්ටම් | 100* |
| VAT | 144* | ප/ගෙ/ ශේෂය | 264 |
| | **2 094** | | **2 094** |

***(අයිතමයට ලකුණු 01 බැගින් ලකුණු (03))**

**(v)** **VAT පාලන ගිණුම (රු.'000)**

| | | | |
|---|---|---|---|
| වෙළෙඳ ණයහිමි | 56* | ඉ/ගෙ/ ශේෂය | 20 |
| මුදල් | 20* | වෙළෙඳ ණයගැති | 144* |
| ප/ගෙ/ ශේෂය | 112 | මුදල් | 24* |
| | **188** | | **188** |

***(අයිතමයට ලකුණු 01 බැගින් ලකුණු (04))**

(ලකුණු 22)

**පොදු ජර්නලය**

**(2)**

| | හර (රු.'000) | බැර (රු.'000) | |
|---|---|---|---|
| ලද වට්ටම් ගිණුම | 5 | | |
| ලාභ අලාභ ගිණුම | | 5 | (01) |
| (ලද වට්ටම් ලාභය ගණනය කිරීමේ දී සැලකිල්ලට නොගැනීමේ වරද නිවැරැදි කිරීම) | | | |
| ලාභ අලාභ ගිණුම | 100 | | |
| දුන් වට්ටම් ගිණුම | | 100 | (01) |
| (දුන් වට්ටම් ලාභය ගණනය කිරීමේ දී සැලකිල්ලට නොගැනීමේ වරද නිවැරැදි කිරීම) | | | |
| ලාභ අලාභ ගිණුම (මෙහෙයුම්) | 100 | | |
| අවිනිශ්චිත ගිණුම | | 100 | |
| (මෙහෙයුම් වියදම් අඩුවෙන් සටහන් කිරීමේ වරද නිවැරැදි කිරීම) | | | (01) |

සියළුම සංලක්ෂ ලියා ඇත්නම් පමණක් ලකුණු (01)

(ලකුණු **04**)

**(3)** **ලාභ සංශෝධන ප්‍රකාශය**

| | **රු.'000** | |
|---|---|---|
| කෙටුම්පත් ශුද්ධ ලාභය | 856 | |
| **එකතුකළා:** | | |
| ලද වට්ටම් | 5 | (01) |
| **අඩුකළා:** | | |
| දුන් වට්ටම් | (100) | (01) |
| මෙහෙයුම් වියදම් | (100) | (01) |
| **නිවැරදි ලාභය** | (01) **661** | |

**(ලකුණු 04)**

**(ලකුණු 30)**

**(මුළු ලකුණු 40)**

**ප්‍රශ්න අංක** 04

| **කොටස** | **1** | **2** | **3** | **4** | එකතුව |
|---|---|---|---|---|---|
| (අ) | 04 | 04 | 01 | 01 | 10 |
| (ආ) | 22 | 04 | 04 | - | 30 |
| | | | | | **40** |

**ප්‍රශ්න අංක 05**

**(අ)**

**(1)**

**ලාල් රවී පියල් හවුල් ව්‍යාපාරය 2021.03.31 දිනෙන් අවසන් වසර සඳහා ආදායම් ප්‍රකාශය**

| | | රු.'000 |
|---|---|---|
| විකුණුම් | | 12 000 |
| (-) විකුණුම් පිරිවැය | | (3 900) (01) |
| දළ ලාභය | | 8 100 |
| මෙහෙයුම් වියදම් | (2 300) | |
| ණය පොලී | (100) (01) | (2 400) |
| ශුද්ධ ලාභය | | (01) 5 700 |
| *ප්‍රාග්ධන පොලී:* | | |
| ලාල් | 400 | |
| රවී | 300 (02) | |
| පියල් | 200 | (900) |
| *හවුල් වේතන:* | | |
| ලාල් | 600 | |
| රවී | 600 (01) | |
| පියල් | 600 | (1 800) |
| *ලාභ කොටස්:* | | |
| ලාල් | 1 500 | |
| රවී | 900 (01) | |
| පියල් | 600 | (3 000) |

(ලකුණු 07)

**(2)** **ප්‍රාග්ධන ගිණුම් (රු.'000)**

| | ලාල් | රවී | පියල් | | ලාල් | රවී | පියල් |
|---|---|---|---|---|---|---|---|
| කීර්තිනාමය | 900 | | 600 (01) | ඉ/ගෙ/ශේෂය | 4 000 | 3 000 | 2 000 |
| ආයෝජන | | 1 200 (01) | | කීර්තිනාමය | 750 | 450 | 300 (01) |
| උපකරණ | | 300 (01) | | ජංගම ගිණුම | | 1 490 | |
| ණය ගිණුම | | 3 440 | | | | | |
| ප/ගෙ/ශේෂය | (01) 3 850 | | 1 700 | | | | |
| | **4 750** | **4 940** | **2 300** | | **4 750** | **4 940** | **2 300** |

**ජංගම ගිණුම් (රු.'000)**

| | ලාල් | රවී | පියල් | | ලාල් | රවී | පියල් |
|---|---|---|---|---|---|---|---|
| ඉ/ගෙ/ශේෂය | | | 60 | ඉ/ගෙ/ශේෂය | 100 | 90 | |
| භාණ්ඩ ගැනිලි | 80 | 20 (01) | | ප්‍රාග්ධන පොලී | (01) 400 | 300 | 200 |
| මුදල් ගැනිලි | | | | | | | |
| (වේතන) | 500 | 400 | 300 (01) | වේතන | (01) 600 | 600 | 600 |
| ප්‍රාග්ධන ගිණුම | | 1 490 | | ලාභ කොටස් | (01) 1 500 | 900 | 600 |
| ප/ගෙ/ශේෂය | 2 120 | | 1 040 | ණයහිමි | | 20 (01) | |
| | | | | ණය පොලී | (01) 100 | | |
| | **2 700** | **1 910** | **1 400** | | **2 700** | **1 910** | **1 400** |

**(ලකුණු 12)**

**(3)** රවීට ගෙවිය යුතු ණය මුදල (01) **රු. 3 440 000**

**(ලකුණු 01)**

**(ලකුණු 20)**

(ආ)

**සෘජු ක්‍රමය: මෙහෙයුම් ක්‍රියාකාරකම් වලින් මුදල් ප්‍රවාහය**

| | රු.'000 | | |
|---|---|---|---|
| ගනුදෙනුකරුවන්ගේ ලද මුදල් | 25 800 | (02) | පෙර. 1 |
| සැපයුම්කරුවන්ට සහ සේවකයන්ට ගෙවූ මුදල් | (19 350) | (06) | පෙර. 2 |
| | 6 450 | | |
| පොලී ගෙවීම් | ( 1 750) | (01) | පෙර. 3 |
| ආදායම් බදු ගෙවීම් | (1 150) | (01) | පෙර. 4 |
| **මෙහෙයුම් කටයුතුවලින් ජනනය වූ ශුද්ධ මුදල් ප්‍රවාහය** | **3 550** | | |

**වක්‍ර ක්‍රමය: මෙහෙයුම් ක්‍රියාකාරකම් වලින් මුදල් ප්‍රවාහය**

| | රු.'000 | | |
|---|---|---|---|
| බදු පෙර ලාභය | 5 200 | | |
| ක්ෂය | 1 800 | (01) | |
| මෝටර් රථ විකුණුම් ලාභ | (800) | (01) | |
| පොලී ලැබීම් | (400) | (01) | |
| පොලී වියදම් | 1 500 | (01) | |
| | 7 300 | | |
| *කාරක ප්‍රාග්ධනයේ වෙනස්වීම්:* | | | |
| තොග වැඩිවීම | (600) | (01) | |
| වෙළෙඳ ලැබිය යුතු දෑ අඩුවීම | 800 | (01) | |
| කලින් ගෙවීම් වැඩිවීම | (300) | (01) | |
| වෙළෙඳ ගෙවිය යුතු දෑ අඩුවීම | (750) | (01) | |
| මෙහෙයුම් **ක්‍රියාකාරකම් වලින්** මුදල් ප්‍රවාහය | 6 450 | | |
| ආදායම් බදු ගෙවීම් | (1 150) | (01) | පෙර. 3 |
| පොලී ගෙවීම් | (1 750) | (01) | පෙර. 4 |
| **මෙහෙයුම් ක්‍රියාකාරකම් වලින් ජනනය වූ ශුද්ධ මුදල් ප්‍රවාහය** | **3 550** | | |

**(ලකුණු 20)**

| **පෙරවැඩ :** | **රු.'000** | |
|---|---|---|
| **පෙරවැඩ 1** | | |
| 2020.04.01 දිනට වෙළෙඳ ලැබිය යුතු | 6 000 | |
| විකුණුම් | 25 000 | **01** |
| 2021.03.31 දිනට ලැබිය යුතු | (5 200) | **01** |
| මුදල් ලැබීම් | **25,800** | |
| | | |
| **පෙර වැඩ 2** | | |
| 2020.04.01 දිනට තොග | 1 800* | |
| ගැනුම් | 15 600 | **01** |
| 2021.03.31 දිනට තොග | (2 400)* | |
| *විකුණුම් පිරිවැය* | 15 000 | |
| | | |
| 2020.04.01 දිනට වෙළෙඳ ගෙවිය යුතු | 4 250* | |
| ගැනුම් | 15 600 | |
| 2021.03.31 දිනට ගෙවිය යුතු | (3 500)* | |
| වෙළෙඳ ගෙවිය යුතු දෑ සඳහා ගෙවීම් | 16 350 | |
| | | |
| 2020.04.01 දිනට කලින් ගෙවීම් | 200* | |
| වියදම් | 4 500 | **01** |
| 2021.04.01 දිනට කලින් ගෙවීම් | (500)* | |
| ක්ෂය | (1 800) | **01** |
| මෙහෙයුම් වියදම් සඳහා මුදල් ගෙවීම් | 3 000 | |
| සැපයුම්කරුවන්ට සහ සේවකයින්ට ගෙවීම් | **19 350** | |
| (*අයිතම දෙකකට ලකුණු **01** බැගින් උපරිම ලකුණු) | | |
| **පෙරවැඩ 3** | | |
| 2020.04.01 ට ගෙවිය යුතු පොලී | 650 | |
| පොලී වියදම | 1 500 | **01** |
| 2021.03.31 ට ගෙවිය යුතු පොලී | (400) | |
| පොලී ගෙවීම් | **1 750** | |
| | | |
| **පෙරවැඩ 4** | | |
| 2020.04.01 ට ගෙවිය යුතු ආදායම් බදු | 450 | |
| බදු වියදම | 1 000 | **01** |
| 2021.03.31 ට ගෙවිය යුතු බදු | (300) | |
| ආදායම් බදු ගෙවීම් | **1 150** | |

**(මුළු ලකුණු 40)**

ප්‍රශ්න අංක 5

| **කොටස** | 1 | 2 | 3 | **එකතුව** |
|---|---|---|---|---|
| (අ) | 07 | 12 | 01 | 20 |
| (ආ) | | | | 20 |
| | | | | **40** |

ප්‍රශ්න අංක. **6**

(අ)

(1) **කණ්ඩායම සඳහා විචල්‍ය පිරිවැය (රු.):** **5 000** (02)

(1) **කණ්ඩායම සඳහා විචල්‍ය පිරිවැය (රු.):** **5 000**

| **පෙරවැඩ (රු.)** | |
|---|---|
| ආහාර පාන | 4 000 **01** |
| සනීපාරක්ෂක වියදම් | 1 000 **01** |
| **කණ්ඩායමක් සඳහා විචල්‍ය පිරිවැය** | **5 000** |

(2) **මුළු ස්ථාවර පිරිවැය (රු.) :** **110 000** (05)

| **පෙරවැඩ (රු.)** | |
|---|---|
| විනිසුරු ගාස්තු | 15 000 **01** |
| කුසලාන, සහතික පිරිවැය | 50 000 **01** |
| ක්‍රීඩා උපකරණ කුලිය | 25 000 **01** |
| සංගීත කණ්ඩායම් ගාස්තු | 8 000 **01** |
| සංවිධායකවරුන් සඳහා ආහාර පාන | 12 000 **01** |
| **මුළු ස්ථාවර පිරිවැය** | **110 000** |

(3) **කණ්ඩායමක දායකය (රු.):** **5 000** (02)

| **පෙරවැඩ (රු.)** | |
|---|---|
| ඇතුල් වීමේ ගාස්තු ආදායම | 10 000 **01** |
| විචල්‍ය පිරිවැය | **01** 5 000 |
| **කණ්ඩායමක දායකය** | **5 000** |

**(4) මුළු පිරිවැය ආවරණය වීමට අවශ්‍ය කණ්ඩායම් ගණන:** **22** (02)

| **පෙරවැඩ (රු.)** | |
|---|---|
| ස්ථාවර පිරිවැය | **01** 110 000 |
| ඒකක දායකය | **01** 5 000 |
| | 110 000/5 000 = **22** |

**(5) රු.40 000 ක අතිරික්තයක් ලබා ගැනීමට අවශ්‍ය කණ්ඩායම් ගණන:** **30** (03)

| **පෙරවැඩ (රු.)** | |
|---|---|
| මුළු ස්ථාවර පිරිවැය | 110 000 **01** |
| අපේක්ෂිත අතිරික්තය | 40 000 **01** |
| ඒකක දායකය | 5 000 **01** |
| **අවශ්‍ය කණ්ඩායම් ගණන** | (110 000+40 000)/5 000 = **30** |

(6) කණ්ඩායම් 35 ක් සහභාගි වන්නේ නම් අපේක්ෂිත අතිරික්තය (රු.) : **125 000** (06)

| පෙරවැඩ (රු.) | | |
|---|---|---|
| ආදායම: | | |
| තරඟාවලි ගාස්තුව | (35 **01** x 10 000 **01**) | 350 000 |
| අපේක්ෂිත අනුග්‍රාහකත්වය | | 60 000 **01** |
| | | 410 000 |
| විචල්‍ය පිරිවැය | (35 **01** x **01** 5 000) | (175 000) |
| ස්ථාවර පිරිවැය | | **01** 110 000 |
| **අතිරික්තය** | | **125 000** |

| හෝ විකල්ප පිළිතුර: | | |
|---|---|---|
| දායකය | (35 **01** x **02** 5 000 | 175 000 |
| අපේක්ෂිත අනුග්‍රාහකත්වය | | 60 000 **01** |
| | | 235 000 |
| ස්ථාවර පිරිවැය | | **02** (110 000) |
| **අතිරික්තය** | | **125 000** |

(ලකුණු **20**)

(ආ)

(1) **ශුද්ධ ලාභ අනුපාතය** **7.5%** (02)

| පෙරවැඩ: | |
|---|---|
| දළ ලාභය | 30 000 |
| මෙහෙයුම් වියදම් | (12 000) |
| පොලී වියදම් | (6 000) |
| බදු වියදම | (3 000) |
| ශුද්ධ ලාභය | 9 000 **01** |
| විකුණුම් | 120 000 **01** |
| **ශුද්ධ ලාභ අනුපාතය** | **9 000 /120 000= 7.5%** |

(2) **ක්ෂණික වත්කම් අනුපාතය** **1:1** (02)

| පෙරවැඩ: | |
|---|---|
| ජංගම වත්කම් | 58 000 |
| තොග | (21 500) |
| කලින් ගෙවීම් | (7 500) |
| ක්ෂණික වත්කම් | 29 000 **01** |
| ජංගම වගකීම් | 29 000 **01** |
| **ක්ෂණික වත්කම් අනුපාතය** | **29 000/29 000 = 1:1** |

(3) **ණය එකතු කිරීමේ කාලය** **දින 60** (02)

**පෙරවැඩ:**

| | |
|---|---|
| 2020.04.01 දිනට ණයගැතියෝ | 22 500 |
| 2021.03.31 ට ණයගැතියෝ | 17 500 |
| සාමාන්‍ය ණයගැතියෝ | 20 000 **01** |
| විකුණුම් | 120 000 |
| වැඩ කරන දින | 360 **01** |
| | **(20 000 /120 000) *360** |
| **ණය එකතු කිරීමේ කාලය** | **= දින 60** |

(4) **තොග පිරිවැටුම් අනුපාතය** **වාර 4.5** (02)

**පෙරවැඩ:**

| | |
|---|---|
| විකුණුම් | 120 000 |
| දළ ලාභය | (30 000) |
| විකුණුම් පිරිවැය | 90 000 **01** |
| 2020.04.01 දිනට තොග | 18 500 |
| 2021.03.31 දිනට තොග | 21 500 |
| සාමාන්‍ය තොගය | 20 000 **01** |
| **තොග පිරිවැටුම් අනුපාතය** | **90 000 / 20 000 = වාර 4.5** |

(5) **ණය හිමිකම් අනුපාතය** **60%** (02)

**පෙරවැඩ:**

| | |
|---|---|
| දිගුකාලීන ණය | 54 000 **01** |
| 2020.04.01 දිනට හිමිකම | 81 000 |
| ශුද්ධ ලාභය | 9 000 |
| 2021.03.31 දිනට හිමිකම | 90 000 **01** |
| **ණය හිමිකම් අනුපාතය** | **54 000/90 000 = 60%** |

(ලකුණු **10**)

(ඉ)

**(1)** **සාමාජික මුදල් ගිණුම (රු.'000)**

| | | | |
|---|---|---|---|
| ඉ/ගෙ/ශේෂය | 90 (01) | මුදල් | 1 188 (01) |
| ආදායම් සහ වියදම් | 1 140 (01) | ආදායම් සහ වියදම් | 120 (01) |
| ප/ගෙ/ශේෂය | 150 (01) | ප/ගෙ/ශේෂය | 72 (01) |
| | **1 380** | | **1 380** |

(ලකුණු **06**)

**පෙරවැඩ:**

| | සාමාජික ගණන | එක් අයෙකුගේ සාමාජික මුදල (රු.'000) | අවුරුදු ගණන | වටිනාකම (රු.'000) |
|---|---|---|---|---|
| 2020.01.01 ට ලැබිය යුතු සාමාජික මුදල් | 15 | 6 | | **90** 01 |
| 2020.12.31 ලැබිය යුතු සාමාජික මුදල් | 12 | 6 | | **72** 01 |
| සාමාජිකත්වය අවලංගු කිරීම | 10 | 6 | 2 | **120** 01 |
| මුදල් ලැබීම් | | | | |
| නව සාමාජිකයන් | 25 | 6 | 2 | **300** 01 |
| හිඟ සාමාජික මුදල් | 5 | 6 | 2 | **60** 01 |
| අනෙකුත් සාමාජිකයන් | 138 | 6 | | 828 |
| | | | | **1 188** |
| ඉදිරියට ගෙවූ සාමාජික මුදල් | 25 | 6 | | **150** 01 |
| ප්‍රවර්තන වර්ෂය සඳහා හඳුනාගත් සාමාජික මුදල් | 190 | 6 | | **1 140** |

**(ලකුණු 10)**

**2) 2021.03.31 දිනෙන් අවසන් වසර සඳහා ආදායම් ප්‍රකාශනය**

**(රු.'000**

| | |
|---|---|
| සාමාජික මුදල් | 1 140* |
| පරිත්‍යාග | 240* |
| තරඟාවලි ආදායම | 790* |
| | 2 170 |
| පුහුණුකරු දීමනා | (1 150)* |
| ක්ෂය | (300)* |
| කාර්යාල වියදම් | (520)* |
| සාමාජික මුදල් කපාහැරීම | (120)* |
| **අතිරික්තය** | (01) **80** |

නිවැරදි අයිතම දෙකකට **01** බැගින් ලකුණු (03)

**(ලකුණු 04)**

**(මුළු ලකුණු 40)**

**ප්‍රශ්න අංක 06**

| කොටස | **1** | **2** | **3** | **4** | **5** | **06** | එකතුව |
|---|---|---|---|---|---|---|---|
| (අ) | 02 | 05 | 02 | 02 | 03 | 06 | 20 |
| (ආ) | 02 | 02 | 02 | 02 | 02 | - | 10 |
| (ඉ) | 06 | 04 | - | - | - | - | 10 |
| | | | | | | | **40** |

**ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව**
**இலங்கைப் பரீட்சைத் திணைக்களம்**
**Department of Examinations, Sri Lanka**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2021(2022)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2021(2022)
General Certificate of Education (Adv. Level) Examination, 2021(2022)

| ගිණුම්කරණය I<br>கணக்கீடு I<br>Accounting I | 33 S I | පැය දෙකයි<br>இரண்டு மணித்தியாலம்<br>Two hours |
|---|---|---|

**උපදෙස්:**

- ※ **සියලුම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
- ※ අංක **1** සිට **30** තෙක් වූ ප්‍රශ්නවලට නිවැරදි පිළිතුරු තෝරා **එහි අංකය ප්‍රශ්නයට ඉදිරියෙන් ඇති තිත් ඉර මත ලියන්න.**
- ※ අංක **31** සිට **50** තෙක් වූ ප්‍රශ්නවලට කෙටි පිළිතුරු **අදාළ තිත් ඉරි මත ලියන්න.**
- ※ සෑම ප්‍රශ්නයකටම **සමාන** ලකුණු හිමි වේ.
- ※ **විභාග අංකය,** ඉහළින් ඇති කොටුවේ පැහැදිලි ව සටහන් කරන්න.
- ※ **වැඩසටහන් සම්පාදනය කළ නොහැකි ගණක යන්ත්‍ර භාවිතයට අවසර දෙනු ලැබේ.**

විභාග අංකය : ..................................

**පරීක්ෂකගේ ප්‍රයෝජනය සඳහා පමණි.**

| | අත්සන | සංකේත අංක |
|---|---|---|
| 1 වන පරීක්ෂක | | |
| 2 වන පරීක්ෂක | | |
| අති.ප්‍රධාන පරීක්ෂක | | |
| ගණිත පරීක්ෂක | | |
| ප්‍රධාන පරීක්ෂක | | |

| I පත්‍රය සඳහා | |
|---|---|
| ප්‍රශ්න අංකය | ලකුණු |
| 01 - 30 | |
| 31 - 50 | |
| එකතුව | |

**1.** පහත දැක්වෙන කුමන ප්‍රකාශය, ආයතනයක ගිණුම්කරණයේ මූලික පරමාර්ථය **වඩාත් හොඳින්** විස්තර කරනු ලබයි ද?
(1) නිශ්චිත කාලයක් තුළ සිදු වූ ගනුදෙනු වාර්තා කිරීම.
(2) මූල්‍ය ප්‍රකාශන පිළියෙල කිරීම සඳහා ගනුදෙනු සටහන් කිරීම.
(3) කළමනාකරුවන්ගේ භාවිතය සඳහා තොරතුරු සන්නිවේදනය කිරීම.
(4) ප්‍රාග්ධන සපයන්නන් සඳහා පොදු පරමාර්ථ මූල්‍ය ප්‍රකාශන පිළියෙල කිරීම.
(5) ඇල්මැති පාර්ශ්වයන්ට තීරණ ගැනීම සඳහා මූල්‍ය සහ මූල්‍ය නොවන තොරතුරු සැපයීම. (......)

**2.** මූල්‍ය තත්ත්ව ප්‍රකාශනයේ දින සිට මාස 12 ක් ඇතුළත දිගුකාලීන ණයවලින් ගෙවිය යුතු කොටස, ජංගම වගකීමක් ලෙස වර්ග කිරීම සඳහා පදනම් වන්නේ පහත කුමන ගිණුම්කරණ සංකල්පය ද?
(1) උපචිත (2) සංගතතා (3) අඛණ්ඩ පැවැත්ම
(4) ගැළපුම් (5) විචක්ෂණ (......)

**3.** ආයතනයක් සතු යන්ත්‍රයක ඇස්තමේන්තුගත ඵලදායී ජීව කාලය වසර 10 සිට වසර 8 දක්වා සංශෝධනය කරන ලද අතර, මෙම සංශෝධනය මත ගණනය කළ ක්ෂය ප්‍රවර්තන වර්ෂයේ මූල්‍ය ප්‍රකාශන තුළ හඳුනාගන්නා ලදී. මෙම හඳුනා ගැනීම සඳහා පදනම් වන්නේ පහත කුමන ගිණුම්කරණ සංකල්පය ද?
(1) ප්‍රමාණාත්මක බව (2) ගැළපුම් (3) ඓතිහාසික පිරිවැය
(4) අනාවරණ (5) යථාරූපී (......)

● **අංක 4 සිට 6 දක්වා ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමට පහත තොරතුරු භාවිත කරන්න.**

2021.03.01 දින සීමිත මංගල පොදු සමාගම පරිපාලන කටයුතු සඳහා භාවිත කිරීමට රු. 500 000 කට කාර්යාල උපකරණයක් ණයට මිල දී ගන්නා ලදී. 2021.03.02 දින සමාගම විසින් මෙම උපකරණය ස්ථාපනය කිරීම සඳහා රු. 20 000 ක් මුදලින් ගෙවන ලදී. මෙම කාර්යාල උපකරණ ණය, සමාන මාසික වාරික 10 කින් ගෙවිය යුතු වේ. 2021.03.31 දින ප්‍රථම වාරිකය වූ රු. 60 000 ක් ගෙවූ අතර, එහි රු. 10 000 ක පොලියක් ද ඇතුළත් විය.

**4.** 2021.03.31 දිනට මෙම ගනුදෙනුවල **ශුද්ධ බලපෑම** පහත කුමන ගිණුම්කරණ සමීකරණයෙන් පෙන්වනු ලබයි ද?

| | වත්කම් (රු.' 000) | = | වගකීම් (රු.' 000) | + | හිමිකම (රු.' 000) |
|---|---|---|---|---|---|
| (1) | + 420 | | + 440 | | - 20 |
| (2) | + 420 | | + 450 | | - 30 |
| (3) | + 440 | | + 440 | | 0 |
| (4) | + 440 | | + 450 | | - 10 |
| (5) | + 460 | | + 470 | | - 10 |

(......)

**5.** 2021.03.31 දින ගෙවන ලද ප්‍රථම ණය වාරිකය සටහන් කිරීම සඳහා **නිවැරදි** ද්විත්ව සටහන කුමක් ද?

| | **ගිණුම්** | **හර (රු.' 000)** | **බැර (රු.' 000)** |
|---|---|---|---|
| (1) | කාර්යාල උපකරණ ණය | 50 | |
| | මුදල් | | 50 |
| (2) | කාර්යාල උපකරණ ණය | 60 | |
| | මුදල් | | 60 |
| (3) | කාර්යාල උපකරණ ණය | 50 | |
| | කාර්යාල උපකරණ | 10 | |
| | මුදල් | | 60 |
| (4) | කාර්යාල උපකරණ ණය | 50 | |
| | පොලී වියදම් | 10 | |
| | මුදල් | | 60 |
| (5) | කාර්යාල උපකරණ ණය | 60 | |
| | පොලී වියදම් | 10 | |
| | මුදල් | | 60 |
| | ගෙවිය යුතු පොලී | | 10 |

(……)

**6.** කාර්යාල උපකරණයෙහි පිරිවැය සටහන් කිරීමට භාවිත කරන මූලික ලියවිල්ල/ලියවිලි සහ මූලික සටහන් පොත/පොත් කවරේ ද?

| | **මූලික ලියවිල්ල/ලියවිලි** | **මූලික සටහන් පොත/පොත්** |
|---|---|---|
| (1) | ගැනුම් ඉන්වොයිසිය | ගැනුම් ජර්නලය |
| (2) | ගැනුම් ඉන්වොයිසිය | පොදු ජර්නලය |
| (3) | ජර්නල් වවුචරය | පොදු ජර්නලය |
| (4) | ගැනුම් ඉන්වොයිසිය සහ ගෙවීම් වවුචරය | ගැනුම් ජර්නලය සහ මුදල් ගෙවීම් ජර්නලය |
| (5) | ජර්නල් වවුචරය සහ ගෙවීම් වවුචරය | පොදු ජර්නලය සහ මුදල් ගෙවීම් ජර්නලය |

(……)

- **අංක 7 සහ 8 ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමට පහත තොරතුරු භාවිත කරන්න.**

ආයතනයක් රු. 100 000 ක් මුදලින් ආයෝජනය කරමින් 2021.01.01 දින සිල්ලර වෙළෙඳ ව්‍යාපාරයක් ආරම්භ කරන ලදී. මෙම ආයතනය එකතු කළ අගය මත බදු (VAT) සඳහා ලියාපදිංචි වී ඇත. ගැනුම් සහ විකුණුම් තුළ 8% ක් VAT ඇතුළත් වේ. 2021.01.31 දිනෙන් අවසන් මාසය තුළදී පහත ගනුදෙනු සිදු විය.

* රු. 540 000 ක භාණ්ඩ ණයට මිල දී ගන්නා ලදී.
* මෙම සියලුම භාණ්ඩ රු. 648 000 කට ණයට විකුණන ලදී.
* ණයගැතියන්ගෙන් රු. 500 000 ක් ලැබුණි.
* රු. 20 000 ක වට්ටමකට යටත්ව රු. 360 000 ක් වූ ණයහිමියන් පියවන ලදී.

**7.** 2021.01.31 දිනෙන් අවසන් මාසය සඳහා දළ ලාභය සහ 2021.01.31 දිනට මුදල් ගිණුමේ ශේෂය කොපමණ ද?

| | **දළ ලාභය (රු.' 000)** | **මුදල් ගිණුමේ ශේෂය (රු.' 000)** |
|---|---|---|
| (1) | 100 | 160 |
| (2) | 100 | 240 |
| (3) | 100 | 260 |
| (4) | 108 | 160 |
| (5) | 108 | 260 |

(……)

**8.** 2021.01.31 දිනට ව්‍යාපාරයේ මුළු වගකීම් සහ හිමිකම කොපමණ ද?

| | **මුළු වගකීම් (රු.' 000)** | **හිමිකම (රු.' 000)** |
|---|---|---|
| (1) | 180 | 120 |
| (2) | 180 | 220 |
| (3) | 188 | 220 |
| (4) | 188 | 228 |
| (5) | 200 | 228 |

(……)

**9.** මිහිනදී ට්‍රේඩර්ස් තනි පුද්ගල ව්‍යාපාරයකි. සේවක අර්ථසාධක අරමුදලට (EPF) මෙම ආයතනයේ සේව්‍ය හා සේවක දායකත්වයන් පිළිවෙළින් 15% ක් සහ 10% ක් වේ. 2021.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා ව්‍යාපාරය ගෙවූ ශුද්ධ වැටුප රු. 1 800 000 ක් වේ. EPF සඳහා සේවක දායකත්වය, දළ වැටුපෙන් කෙරෙන එකම අඩු කිරීම වේ. 2021.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා වැටුප් වියදම සහ EPF වියදම කොපමණ ද?

| | වැටුප් වියදම (රු.'000) | EPF වියදම (රු.'000) |
|---|---|---|
| (1) | 1 800 | 270 |
| (2) | 1 800 | 300 |
| (3) | 2 000 | 300 |
| (4) | 2 000 | 500 |
| (5) | 2 400 | 360 |

(......)

**10.** තනි පුද්ගල ව්‍යාපාරයක් වන අරලිය එන්ටර්ප්‍රයිසස් 2021.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා පිළිවෙළින් රු. 765 000 ක සහ රු. 540 000 ක දළ ලාභයක් සහ ශුද්ධ ලාභයක් වාර්තා කරන ලදී. වර්ෂය තුළ රු. 65 000 ක තොග හානි වී ඇත. 2021.03.31 දිනට ව්‍යාපාරයේ පැවති භෞතික තොගය මත අවසාන තොගය ආගණනය කර ඇත. කෙසේ වුව ද, තොග හානි වීම සම්බන්ධව ගිණුම් පොත්වල කිසිදු සටහනක් තබා නොමැත.
තොග හානිය ගැළපූ පසු **නිවැරදි** දළ ලාභය සහ ශුද්ධ ලාභය කොපමණ ද?

| | දළ ලාභය (රු.'000) | ශුද්ධ ලාභය (රු.'000) |
|---|---|---|
| (1) | 700 | 475 |
| (2) | 700 | 540 |
| (3) | 765 | 475 |
| (4) | 830 | 540 |
| (5) | 830 | 605 |

(......)

**11.** 2021.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා මිහිරානි බේකරියේ ගිණුම් පොත්වලින් පහත තොරතුරු උපුටා ගන්නා ලදී.

| | රු.'000 |
|---|---|
| 2020.04.01 දිනට අමුද්‍රව්‍ය තොගය | 100 |
| 2021.03.31 දිනට අමුද්‍රව්‍ය තොගය | 70 |
| අමුද්‍රව්‍ය ගැනුම් | 130 |
| වර්ෂය තුළ නොනිමි තොගයේ වැඩි වීම | 15 |
| සෘජු ශ්‍රම පිරිවැය | 70 |
| නිෂ්පාදන ඒකක මත පුරස්කාර ගෙවීම් | 30 |
| කර්මාන්තශාලා පොදුකාර්ය පිරිවැය | 35 |

මුළු නිෂ්පාදන පිරිවැය මත පදනම්ව නොනිමි තොගය අගය කෙරේ.
2021.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා ප්‍රාථමික පිරිවැය සහ මුළු නිෂ්පාදන පිරිවැය කොපමණ ද?

| | ප්‍රාථමික පිරිවැය (රු.'000) | මුළු නිෂ්පාදන පිරිවැය (රු.'000) |
|---|---|---|
| (1) | 200 | 220 |
| (2) | 200 | 250 |
| (3) | 215 | 250 |
| (4) | 260 | 280 |
| (5) | 260 | 310 |

(......)

**12.** සුනිමල් ට්‍රේඩර්ස් නිසි ආකාරයට ගිණුම් පොත් පවත්වා නොගනී. පහත තොරතුරු 2021.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා අදාළ වේ.

| | රු.'000 |
|---|---|
| 2020.04.01දිනට තොගය | 140 |
| 2021.03.31දිනට තොගය | 170 |
| විකුණුම් | 1 050 |
| ආපසු යැවුම් | 50 |
| ගෙනඒමේ කුලී | 40 |

සුනිමල් ට්‍රේඩර්ස් විකුණුම් මිල මත 20% ක ලාභ ආන්තිකයක් සහිතව භාණ්ඩ අලෙවි කරනු ලබයි. 2021.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා ගැනුම් කොපමණ ද?

(1) රු. 840 000 (2) රු. 880 000 (3) රු. 915 000
(4) රු. 920 000 (5) රු. 955 000 (......)

**13.** 2020.12.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා සරණ සුභසාධක සංගමයට අදාළව පහත තොරතුරු ලබා දී ඇත.

| විස්තරය | රු.' 000 |
|---|---|
| 2020.01.01 දිනට ලැබිය යුතු සාමාජික මුදල් | 192 |
| 2020.01.01 දිනට ඉදිරියට ලද සාමාජික මුදල් | 60 |
| ප්‍රවර්තන වර්ෂය තුළදී ලද සාමාජික මුදල්: | |
| 2019 වර්ෂය සඳහා | 144 |
| 2020 වර්ෂය සඳහා | 1 092 |
| 2021 වර්ෂය සඳහා | 108 |
| 2020.12.31 දිනට ලැබිය යුතු සාමාජික මුදල් | 96 |

2020.12.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා හඳුනාගත් සාමාජික මුදල් ආදායම:

(1) රු. 1 092 000 (2) රු. 1 200 000 (3) රු. 1 308 000
(4) රු. 1 344 000 (5) රු. 1 488 000 (......)

**14.** 1890 හවුල් ව්‍යාපාර ආඥා පනතෙහි 24 වගන්තියට අනුව පහත කුමන ප්‍රකාශ **නිවැරදි** වේ ද?

A - හවුල්කරුවන් හවුල් ව්‍යාපාරයට ලබාදුන් ණය සඳහා 5% ක වාර්ෂික පොලියකට හිමිකම් ලබයි.

B - හවුල්කරුවන් විශ්‍රාම යන අවස්ථාවේදී ගෙවිය යුතු මුදල පියවා නොමැති විට ඔවුන් ඒ සඳහා 5% ක වාර්ෂික පොලියකට හිමිකම් ලබයි.

C - හවුල්කරුවන් කළමනාකරණය සඳහා දායක වූ විට ඔවුන් වැටුප් සඳහා හිමිකම් ලබයි.

D - හවුල් ව්‍යාපාරයේ වියදමක් හවුල්කරුවන්ගේ පෞද්ගලික මුදලින් ගෙවා ඇති විට, එය ප්‍රතිපූරණය කිරීමට ඔවුන් හිමිකම් ලබයි.

(1) A හා C පමණි. (2) A හා D පමණි. (3) B හා C පමණි.
(4) A, B හා D පමණි. (5) B, C හා D පමණි. (......)

● **අංක 15 සහ 16 ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමට පහත තොරතුරු භාවිත කරන්න.**

අමල් හා සමන් පිළිවෙළින් 3 : 2 අනුපාතයට ලාභාලාභ බෙදාගනිමින් හවුල් ව්‍යාපාරයක් පවත්වාගෙන ගියහ. 2020.03.31 දිනට ඔවුන්ගේ ප්‍රාග්ධන හා ජංගම ගිණුම් ශේෂ පහත පරිදි වේ.

| | අමල් (රු.'000) | සමන් (රු.'000) |
|---|---|---|
| ප්‍රාග්ධන ගිණුම් ශේෂය | 300 | 200 |
| ජංගම ගිණුම් ශේෂය | 60 | 50 |

හවුල්කරුවන්ට වැටුප් සහ ප්‍රාග්ධන පොලී ගෙවනු නොලැබේ. 2021.03.31 දින මලික් නව හවුල්කරුවකු ලෙස ව්‍යාපාරයට බඳවා ගන්නා ලදී. මලික් ප්‍රාග්ධනය ලෙස රු. 500 000 කින් දායක විය. අමල්, සමන් සහ මලික් අතර නව ලාභාලාභ අනුපාතය පිළිවෙළින් 3 : 2 : 1 ක් වේ. 2021.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා හවුල් ව්‍යාපාරයෙහි ශුද්ධ ලාභය රු. 150 000 ක් විය. හවුල් ව්‍යාපාරයෙහි කීර්තිනාමය හවුල්කරුවන්ගේ ප්‍රාග්ධන ගිණුම් තුළින් ගළපනු ලබයි. වර්ෂය තුළ ගැනිලි සිදු කර නොමැත.

2021.03.31 දිනට හවුල්කරුවන්ගේ ප්‍රාග්ධන ගිණුම් ශේෂ (කීර්තිනාමය සහ මලික්ගේ ප්‍රාග්ධන දායකත්වය ගැළපීමෙන් පසුව) පහත පරිදි විය.

| හවුල්කරු | අමල් | සමන් | මලික් |
|---|---|---|---|
| ශේෂය (රු.'000) | 330 | 220 | 450 |

**15.** 2021.03.31 දිනට හවුල් ව්‍යාපාරයෙහි ඇස්තමේන්තු කරන ලද කීර්තිනාමය කොපමණ ද?

(1) රු. 50 000 (2) රු. 250 000 (3) රු. 300 000
(4) රු. 500 000 (5) රු. 750 000 (......)

**16.** 2021.03.31 දිනට ව්‍යාපාරයෙහි හිමිකම සහ අමල්ගේ ජංගම ගිණුමේ ශේෂය කොපමණ ද?

| | හිමිකම (රු.'000) | අමල්ගේ ජංගම ගිණුමේ ශේෂය (රු.'000) |
|---|---|---|
| (1) | 1 000 | 135 |
| (2) | 1 000 | 150 |
| (3) | 1 235 | 135 |
| (4) | 1 260 | 110 |
| (5) | 1 260 | 150 |

(......)

**17.** හරිත සාමාන්‍ය පිරිවැය ක්‍රමයට අනුව ගණනය කරන, ඒකකයක තොග පිරිවැය වෙනස්වීමට පහත කුමන සාධක බලපානු ලබයි ද?

A - ගැනුම් මිල
B - මිලදී ගන්නා ලද ප්‍රමාණය
C - නිකුත් කරන ලද ප්‍රමාණය
D - ආරම්භක තොගයේ පිරිවැය

(1) A හා B පමණි. (2) A හා C පමණි. (3) C හා D පමණි.
(4) A, B හා D පමණි. (5) A, B, C හා D යන සියල්ලම ය. (......)

**18.** සීමිත මධුෂිකා පොදු සමාගම 2016.04.01 දින සංස්ථාපනය කරන ලදී. සමාගම එහි ඉඩම් 2019.03.31 දින ප්‍රථම වරට ප්‍රත්‍යාගණනය කරන ලද අතර, එයින් රු. 500 000 ක අතිරික්තයක් ඇති විය. 2021.03.31 දින ඉඩම් නැවත ප්‍රත්‍යාගණනය කළ අතර, එයින් රු. 300 000 ක ඌනතාවක් ඇති විය. තව ද සමාගම එහි කාර්යාල උපකරණ 2021.03.31 දින ප්‍රථම වරට ප්‍රත්‍යාගණනය කරන ලද අතර, එයින් රු. 800 000 ක ඌනතාවක් ඇති විය.

LKAS 16 (දේපළ, පිරියත සහ උපකරණ) ප්‍රමිතයට අනුව 2021.03.31 දින ඇති වූ ප්‍රත්‍යාගණන ඌනතාවන් සඳහා වන **නිවැරදි** ගිණුම්කරණ පිළිවෙත:

(1) රු. 1 100 000 ක් ලාභ හෝ අලාභ තුළ හඳුනා ගැනීම
(2) රු. 1 100 000 ක් වෙනත් විස්තීරණ ආදායම තුළ හඳුනා ගැනීම
(3) රු. 300 000 ක් ලාභ හෝ අලාභ තුළ සහ රු. 800 000 ක් වෙනත් විස්තීරණ ආදායම තුළ හඳුනා ගැනීම
(4) රු. 600 000 ක් ලාභ හෝ අලාභ තුළ සහ රු. 500 000 ක් වෙනත් විස්තීරණ ආදායම තුළ හඳුනා ගැනීම
(5) රු. 800 000 ක් ලාභ හෝ අලාභ තුළ සහ රු. 300 000 ක් වෙනත් විස්තීරණ ආදායම තුළ හඳුනා ගැනීම
(......)

**19.** LKAS 37 (ප්‍රතිපාදන, අසම්භාව්‍ය වගකීම් සහ අසම්භාව්‍ය වත්කම්) ප්‍රමිතයට අනුව පහත කුමන අවස්ථාවේදී/අවස්ථාවන්හිදී සමාගමක මූල්‍ය තත්ත්ව ප්‍රකාශනය තුළ ප්‍රතිපාදනයක් හඳුනාගනු ලබන්නේ ද?

A - වසරක වගකීම් සහතිකයක් සහිතව භාණ්ඩ විකිණීම
B - දේපළ, පිරියත සහ උපකරණ ක්ෂය කිරීම
C - විකුණන ලද දෝෂ සහිත භාණ්ඩ අලුත්වැඩියා කිරීමට අතීත පරිචයට අනුව භාර ගැනීම

(1) A පමණි. (2) B පමණි. (3) A හා B පමණි.
(4) A හා C පමණි. (5) A, B හා C යන සියල්ලම ය. (......)

**20.** LKAS 8 (ගිණුම්කරණ ප්‍රතිපත්ති, ගිණුම්කරණ ඇස්තමේන්තු වෙනස්වීම් සහ වැරදි) ප්‍රමිතයට අනුව පහත කුමන අවස්ථාව/අවස්ථා ගිණුම්කරණ ප්‍රතිපත්ති වෙනස්වීමක් ලෙස සලකනු ලබන්නේ ද?

A - ක්ෂය ක්‍රමය සරල මාර්ග ක්‍රමයේ සිට හීනවන ශේෂ ක්‍රමයට වෙනස් කිරීම
B - තොග අගය කිරීමට යොදාගනු ලබන පිරිවැය සූත්‍රය හරිත සාමාන්‍ය පිරිවැය ක්‍රමයේ සිට පෙර-පිවිසි පෙර-පිට (FIFO) ක්‍රමයට වෙනස් කිරීම
C - දේපළ, පිරියත සහ උපකරණ පන්තියක මිනුම් කිරීමේ පදනම, පිරිවැය ආකෘතියේ සිට ප්‍රත්‍යාගණන ආකෘතියට වෙනස් කිරීම

(1) A පමණි. (2) B පමණි. (3) A හා B පමණි.
(4) B හා C පමණි. (5) A, B හා C යන සියල්ලම ය. (......)

**21.** සීමිත රොෂාන් පොදු සමාගම 2020.04.01 දින වසර 4 ක කාලසීමාවක් සඳහා මෝටර් රථයක භාවිත අයිතිය ලබා ගැනීමට කල්බදු ගිවිසුමකට එළඹෙන ලදී. මෙදින මූලික ගෙවීම ලෙස රු. 1 500 000 ක් ගෙවන ලදී. මෙදින කල්බදු වගකීමෙහි මූලික මිනුම් කිරීම රු. 3 500 000 ක් විය. කල්බදු ගිවිසුමට අනුව කල්බදු කාලසීමාව අවසානයේදී මෙම වත්කමෙහි නීත්‍යානුකූල අයිතිය සීමිත රොෂාන් පොදු සමාගමට මාරු කරනු ලබයි. මෙම මෝටර් රථයෙහි ඵලදායී ජීව කාලය වසර 5 කි.

SLFRS 16 (කල්බදු) ප්‍රමිතයට අනුව 2021.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා මෙම මෝටර් රථයේ ක්ෂය කොපමණ ද?

(1) රු. 400 000 (2) රු. 700 000 (3) රු. 875 000
(4) රු. 1 000 000 (5) රු. 1 250 000 (......)

